(නව නිර්දේශය/புதிய பாடத்திட்டம்/New Syllabus)

NEW

ශ්‍රී ලංකා විභාග දෙපාර්තමේන්තුව
இலங்கைப் பரீட்சைத் திணைக்களம்
Department of Examinations, Sri Lanka

11 | S | I, II

අධ්‍යයන පොදු සහතික පත්‍ර (සාමාන්‍ය පෙළ) විභාගය, 2016 දෙසැම්බර්
கல்விப் பொதுத் தராதரப் பத்திர (சாதாரண தர)ப் பரீட்சை, 2016 டிசெம்பர்
General Certificate of Education (Ord. Level) Examination, December 2016

බුද්ධ ධර්මය I, II
பௌத்தம் I, II
Buddhism I, II

## බුද්ධ ධර්මය II

* **පළමුවැනි** ප්‍රශ්නය හා තවත් ප්‍රශ්න **හතරක්** ඇතුළු ව ප්‍රශ්න **පහකට** පමණක් පිළිතුරු සපයන්න.
* පළමුවැනි ප්‍රශ්නයට ලකුණු 20 ක් ද තෝරා ගන්නා අනෙක් ප්‍රශ්නයකට ලකුණු 10 බැගින් ද හිමි වේ.

1. (i) සිදුහත් කුමාරයාට ශිල්ප ශාස්ත්‍ර ඉගැන් වූ බමුණු පඬිවරයාගේ නම කුමක් ද?
   (ii) බුදු දහමේ ඉගැන්වෙන ප්‍රධාන භාවනා ක්‍රම **දෙක** මොනවා ද?
   (iii) බුද්ධ වචනයට අනුව රෝග දෙආකාරයකි. ඒ මොනවා ද?
   (iv) පූජාවලිය හා සද්ධර්ම රත්නාවලිය යන ධර්ම ග්‍රන්ථ රචනා කළ කතුවරුන්ගේ නම් ලියන්න.
   (v) බුදුරජාණන් වහන්සේගේ චරිතයෙන් ප්‍රකට වන 'තාදි ගුණය' යනු කුමක් ද?
   (vi) සතර සංග්‍රහ වස්තු නම් කරන්න.
   (vii) "චේතනාහං භික්ඛවෙ කම්මං වදාමි." මෙම පාඨයේ තේරුම ලියන්න.
   (viii) "යේ ධම්මා හේතුප්පභවා - තේසං හේතුං තථාගතෝ ආහ
   තේසං ච යෝ නිරෝධෝ - එවං වාදී මහාසමණෝ"
   මෙම ගාථාවෙන් හෙළි කෙරෙන බුදු දහමේ ඉගැන්වෙන ධර්ම කරුණ කුමක් ද?
   (ix) 'පුස්තකාරූඪ සංගීතිය' එනමින් හැඳින්වෙන්නේ කුමක් නිසා ද?
   (x) අනුරාධපුර යුගයේ නිර්මාණය කරන ලද 'සඳකඩපහණේ'හි දැකිය හැකි සත්ත්ව රූප **හතර** නම් කරන්න.

2. (i) දස පාරමිතා අතුරෙන් **දෙකක්** නම් කරන්න.
   (ii) ඔබ ඉහත (i)හි සඳහන් කළ එක් පාරමිතාවක් නිදසුන් සපයමින් පැහැදිලි කරන්න.
   (iii) යහපත් දැහැමි සමාජයක් ගොඩනැගීමට පාරමිතාවල ඇතුළත් ගුණධර්ම ඉවහල් වන අයුරු විස්තර කරන්න.

3. (i) 'සුකරානි අසාධූනි' ගාථාව සම්පූර්ණ කොට ලියන්න.
   (ii) ඉහත (i)හි සඳහන් ගාථාවේ තේරුම ලියන්න.
   (iii) ජීවිතයක් සාර්ථක කර ගැනීමට බුදුරජාණන් වහන්සේගේ මෙම දේශනාව කෙතෙක් දුරට අදාළ වේ දැ'යි විමසන්න.

4. (i) චතුරාර්ය සත්‍ය අතුරෙන් **දෙකක්** නම් කරන්න.
   (ii) චතුරාර්ය සත්‍ය, ආර්ය සත්‍ය, ලෙස හඳුන්වන්නේ ඇයි දැයි පහදන්න.
   (iii) ලෞකික ජීවිතයේ අප මුහුණ දෙන ගැටලු විසඳා ගැනීමේ මාර්ගයක් ලෙස චතුරාර්ය සත්‍ය අදාළ කරගත හැකි ආකාරය පහදන්න.

[හයවැනි පිටුව බලන්න.

5. (i) පළමු ධර්ම සංගීතියට බලපෑ සුභද්‍ර භික්ෂුවගේ ප්‍රකාශය ලියන්න.

(ii) පළමු ධර්ම සංගීතිය පැවැත් වූ ස්ථානය, ඒ සඳහා අනුග්‍රහය දැක් වූ රජු හා එයට මූලිකත්වය ගත් මහරහතන් වහන්සේ නම් කරන්න.

(iii) ධර්මය හා විනය සුරක්ෂිත කර ගැනීමට පළමු ධර්ම සංගීතියෙන් ගත් විධිමත් ක්‍රියා මාර්ග කවරේ දැ'යි විස්තර කරන්න.

6. (i) ගර්භයේ හැඩය අනුව ස්තූප ප්‍රධාන වශයෙන් ආකාර හයකට බෙදා දැක්වේ. ඉන් ආකාර **දෙකක්** ලියන්න.

(ii) ස්තූපයක රූප සටහනක් ඇඳ, එහි කොටස් නම් කරන්න.

(iii) ශ්‍රී ලාංකික කලා ශිල්පීන්ගේ කලා කුසලතාව ඇගයීමට ලක් කරන්න.

7. පහත සඳහන් මාතෘකා අතුරෙන් **දෙකකට** පමණක් කෙටි සටහන් ලියන්න.

(i) ශ්‍රීමත් අනගාරික ධර්මපාලතුමා

(ii) අනණ සුඛය

(iii) පන්සිය පනස් ජාතක පොත් වහන්සේ

(iv) දුමින්දාගමනය

* * *